

සෙර්ගේයි බරුස්දින්

# සෝවියට් රට මගේ

සෙර්ගේයි
බරුස්දින්

# සෝවියට් රට මගේ



ප්‍රගති ප්‍රකාශක මන්දිරය

මොස්කව්





ආදරනීය නංගී, මල්ලී!

අප සමග සෝවියට් රට වටේ සංචාරයක් කරන ලෙස අපි ඔබෙන් ඉල්ලා හිටිනවා. මේ පොතින් ඔබට පළමුවැනි වරට සෝවියට් රට වටේ යන්නට පුළුවනි.

ඔව්. පළමුවැනි වරට.

# පටන් ගත් හැටි

මගේ පුංචි පුතාගෙ නම දීමිකා.

එයාගෙ වයස අවුරුදු පහයි. ඔය ළමයින්ගෙ වයසට සමානයි. ඔය ළමයි වගේම දීමිකාත් හැම දෙයක් ගැනම අහනවා, බලනවා, සොයනවා.

දවසක් ද දීමිකා මගෙන් මෙහෙම ප්‍රශ්න කළා:

''තාත්තේ, අප ඉන්නෙ කොහෙද?''

''අප ඉන්නෙ ගෙදර'' මම පිළිතුරු දුන්නා.

''ගේ තියෙන්නෙ කොහෙද?''

''ගොඩනැගිල්ලක.''

''ගොඩනැගිල්ල තියෙන්නෙ කොහෙද?''

''මාවතක.''

''මාවත තියෙන්නෙ කොහෙද?''

''මොස්කව් නගරයේ.''

''මොස්කව් නගරෙ තියෙන්නෙ කොහෙද?''

''සෝවියට් දේශයේ. පුතා දන්නවද අපි උපන් රටේ නම තමා සෝවියට් දේශය'' මම මගේ පුතුට විස්තර කළෙමි.

''මම දන්නවා. ඉතින් අපේ රට ගැන විස්තරයක් කරන්න!'' දීමිකා මගෙන් ඉල්ලා සිටියා.

අපේ රට ගැන දීමිකාට විස්තර කරන්නෙ කොහොමද කියල මම බොහෝ වේලාවක් කල්පනා කළා. පසුව මම පුතුට කතා කරල මෙහෙම කිව්වා:

''රටේ හැටි පුතාම සියැසින් බලාගන්ට ඕන. එතකොට තේරුම් ගනීවි.''

''බලන්නේ කොහොමද?''

''ඕන විදිහකට බලන්න හැකි. හොඳම විදිහ තමා පයින් ගමන් කිරීම. එහෙමත් නැති නම් අසු පිටින් රට වටේ යාම. එතකොට හැම දෙයක්ම පෙනේවි. මොටෝ රියෙන්, දුම්රියෙන්, නැවෙන් වුණත් යන්නට පුළුවනි. වඩාත් ඉක්මනින් රට බලන්ට ඕන නම් අහස් යානාවෙන් යන්ට ඕන. මේ විදිහට ගියාම හැම දෙයක්ම බලන්ට බැරිවුණාට, සමහර දේ බලන්ට පුළුවනි.''

''හොඳයි අපි අහස් යානාවෙන් යමු!'' දීම්කා යෝජනා කළා. ''අහස්යානා තියෙන්නේ කොහෙද?''

''අහස්යානා තියෙන්නෙ අහස් තොටුපොළේ'' මම කිව්වා.

''එහෙනම් අපි අහස් තොටුපොළට යමු!'' දීම්කා යෝජනා කළා.

# අපූරු සංචාරය

මොස්කව් නගරයේ අහස් තොටුපොළවල් කීපයක්ම තියෙනවා. දවස් පතා අහස් යානා සිය ගණනක් මොස්කව් නගරයෙන් වෙනත් නගර බලා පියාඹනවා. වෙනත් නගර වලින් මොස්කව් නගරයට සිය ගණනක් අහස් යානා එනවා.

''අපි යන්නේ කොයි අහස් තොටුපොළටද?'' මම ප්‍රශ්න කළා.

පුංචි දීම්කා කලබලවුණේ නැහැ.

''ලොකුම ලොකු අහස් තොටුපොළට'' දීම්කා පිළිතුරු දුන්නා.

අහස් තොටුපොළ හරිම විශාලයි. අහස් යානා මහ ගොඩක්. ''ඉල්-12'', ''ඉල්-14'' වර්ගයේ අහස් යානා මෙතන තියෙනවා. ''තු'' වර්ගයට අයත් ලොකු

අහස් යානා තියෙනවා. මහ යෝධ අහස් යානාත් තියෙනවා. ඒවායේ නම "අන්තෙයි."

දීමිකා අහස්යානා වර්ගවල නම් හොඳින් දන්නවා. එයා තමා අපේ කාර්මික විශේෂඥයා.

"අපි යන්නෙ මොන අහස් යානාවෙන්ද?" මම ඇසුවා.

"ලොකුම අහස් යානාවෙන්" දීමිකා කිව්වා.

ලොකුම ලොකු අහස් යානාවේ නැගිලා අප දෙදෙනා පියාඹන්ට පටන් ගත්තා. අපේ අහස් යානාව එසේ මෙසේ එකක් නොවේ.

අපේ අහස් යානාව වගේම, අපිත් පුදුම ගමනක් ගියා. රට වටේම එක වරම යන්න අපට පුළුවන් වුණා.



# අගනුවර



අපේ අහස් යානාව අහසට නැග්ගා. දීම්කා සතුටෙන් ඉපිලෙනවා. අපි බිම බැලුවා. අපට පේනවා විශාල නගරයක්. චතුරශ්‍ර, මහ මාවත්, ගොඩනැඟිලි.

උයන්වතු, කම්හල්, ක්‍රීඩාංගන. ඔන්න ක්‍රෙම්ලින් මන්දිරය, සම්මේලන මාලිගය, මොස්කව් ගඟ.





''මේවා ඔක්කොම අයිති මොස්කව් නගරයටද?'' දීම්කා අහනවා.

''ඔව්, මොස්කව් නගරයට. අපේ රටේත්, රුසියාවෙත් අග නුවර මොස්කව්'' මම දීම්කාට විස්තර කළා.

# යන්ත්‍ර සහ සත්ත්ව

අපේ අහස් යානාව වැහි වළා සහ වළාකුළු වලට ඉහළින් පියාසර කළා. අපට කිසිවක් පෙනුණේ නැහැ. පහළින් වළාකුළු. දකුණු පැත්තෙන් ඉර පායලා.

''බැලුවා ඇතිද?'' මම දීම්කාගෙන් ඇසුවා.

''ඇති'' මෙහෙම පිළිතුරු දුන් දීම්කා ටික වේලාවක් කල්පනා කරලා ''නැහැ. බැලුවා මදි''යි කිව්වා.

''එහෙම කියන්නේ ඇයි?'' පුදුමවූ මම ඇසුවා.

''අහස් යානාවෙන් යාම නිසා සතුටු වෙනවා. නමුත් කිසිවක් පේන්නේ නැහැ. ඒ හන්ද බැලුවා මදි.'' දීම්කා පිළිතුරු දුන්නා.

''ඔය අඩුව පිරිමහන්ට ඇහැකි. අපි පියාඹන්නේ පුදුම අහස් යානාවකින් නොවැ...''

යානාව පදවන නියමුවාට අපි කිව්වා පහළින් පියාඹන්ට කියලා. අහස් යානාව වළාකුළු වලට පහළින් පියාඹන්ට පටන් ගත් හැටියෙම අපට මහ පොළොව පෙනුණා. ඒ තමා උක්රයිනය.

රන්වන් පාට හතරැස් කොටු මෙන් දිස්වෙන කුඹුරු දුටු දීම්කා නැවත ප්‍රශ්න කළා: ''ඒ මොනවද?''

''තිරිඟු කුඹුරු. තිරිඟු වලින් පාන් හදනවා. කාලා තියෙනවද?''

දීම්කා මඳ සිනාවක් පෑවා:

''සත්තකින්ම, කාලා තියෙනවා. අර මොනවද?''

''උදුපියලි.''

''අතන මොනවද?''

''බීට් අල. ඒවා වලින් සීනි ලබා ගන්නවා.''

''අන්න අතන මොනවද?..''

අපට පහළින් විශාල කුඹුරු, ගම් හා නගර, කම්හල් පෙනිණි. උක්රයිනයේ ලොකුම ගඟ ද්නීපරය. ගඟ අසල උක්රයිනයේ අගනුවර කීයෙව්. අපූරු, ලස්සන, ලොකු නගරයකි.

මෙතනදී දීම්කාට ජලාශයක් පෙනුණා.

''ඒ මොකක්ද?''

''ඒ තමා ජල විදුලි බල ස්ථානය, 'ද්නීප්රොගෙස්'. අවුරුදු කීපයකට ඉස්සෙල්ලා අපේ රටේ ලොකුම විදුලි බල ස්ථානය, එයයි. දැන් එයට වැඩිය හුඟාක් ලොකු විදුලි බල ස්ථාන තියෙනවා. ද්නීපර් ජල විදුලි බල ස්ථානය ළඟ විශාල මුහුදක් සෑදුවා.''

ද්නීපර් ජල විදුලි බල ස්ථානය ළඟ තවත් ලොකු නගරයක් තියෙනවා. දිගැති මහ මාවත්. ඒවා දෙපස ලස්සන ගස් පේළියට සිටවලා. උසැති බට සහිත කම්හල්.

''අපේ රටේ හදන පොඩිම කාර් ජාතිය මොනවාද? පුතා දන්නවාද?''

''දන්නවා, සපරෝෂෙට්ස්!'' දීම්කා පිළිතුරු දුන්නා.

''හරි. ඔය කාර් ජාතිය හදන්නෙ සපරෝෂියෙ කියන නගරෙ. මීළඟට දෙන්බාස් පෙදෙස. එහි බිම් අඟුරු නිපදවනවා. ලෝහ, වානේ නිපදවනවා.



බිම් අඟුරු සහ ලෝහ නැතිව එක යන්ත්‍රයක්වත් හදන්ට බැහැ. උක්රයිනයේ ල්වොව් කියන නගරයේ බස් රිය නිපදවනවා. 'ල්වොව්', 'තුරිස්ත්' 'ස්පුත්නික්' බස් වර්ග පුතා දැකලා තියෙනවද?"

''හරිම ලස්සනයි!'' දීම්කා එකඟවුණා. ''උක්රයිනයේ හැම දෙයක්ම තියෙනවද?''

''ඔන්න අපි මොස්කව් නගරයට ඉහළින් පියාසර කරන විට හැම දෙයක්ම දැක්කා. කම්හල්, පැක්ටරි, පාසල්. හැම තැනම ඔය විදිහට තමා. හැම දෙයක්ම තියෙනවා. ඒ විතරක් නෙවි. හැම නගරයකම විශේෂ දේ තියෙනවා...'' මම කිව්වා.

මේ වනවිට අපට උයන්වතු සහ මිදිවතු පෙනිණි.

''ඒ තමා මොල්දවියාව'' මම ඔහුට තේරුම් කළා.

''රසැති මිදි, ඇපල්, පෙයාර්ස්, ප්ලම්, පලු වර්ග සහ දුම්කොළ මොල්දවියාවේ වැවෙනවා.''

''දුම්කොළ?'' දීම්කා පුදුමයෙන් මා දිහා බැලුවා.''ඒවා ඕන තාත්තාට නෙව!''

''පුතාගෙ කතාව ඇත්ත! දුම්කොළ වැඩි හිටියන්ට. ළමයින්ට පලතුරු.''

''ලොකුම ලොකු ලොරි හදන්නේ කොහෙද?'' දීම්කා නැවත ප්‍රශ්න කළා.

''දැන් අපට පෙනේවි.''





මේ වනවිට අපේ අහස් යානය බෙලො රුසියාවට ඉහළින් පියාසර කළා. ලස්සන කුඹුරු හා පිට්ටනි අපි දුටුවෙමු.

''අර බලන්න පන් ගස්, අර්තාපල්, ගෝවා. අන්න...''

මින්ස්ක් මහ නගරය දීම්කා දුටුවා.

''මෙන්න මේ නගරෙ තමා ලොකුම ලොකු ලොරි හදන්නේ. ටොන් විසිපහක්, ටොන් හතළිහක් බර පැටවිය හැකි ලොරි. සමහර විට ඊටත් වැඩියෙන්...''

''මම දන්නවා. ඒවායේ නම 'මාස්''' මා කතාව හමාර කරන්ට පෙර දීම්කා කිව්වා. '''මාස්' ලොරිය හරියට ඇතෙක් වගෙ. 'සපරෝෂෙට්ස්' කාර් එක හාවෙක් වගෙ. නේද?''

මොටෝ රිය ගැන කතාව නවත්වා වෙනත් දෙයක් ගැන කතා කිරීමට මම වෑයම් කළා. දැන් අපට බෙලොවේෂ්ක් වනය පෙනේ. එය ඉමක් නැති විශාල වනයකි.



''මෙන්න මේ කැලෑවල සූබ්රා කියන විශාල කුළු හරක් වර්ගය ඉන්නවා, පුතා දන්නවද?''

''දන්නවා. මම සත්තු වත්තෙදි දැක්කා. 'මාස්' ලොරිවලත් සූබ්රාගේ රූපය ඇඳලා තියෙනවා. ඇත්ත නොවේද?''

සූබ්රා දුටුවට මගේ පුතා පුදුම වුණේ නැහැ!

අප ගමන් කළ අහස් යානයේ තවත් බොහෝ මගීන් සිටියා.

''යන්තාර්නී නගරයෙන් ඇත් වුණාද? තවම යන්තාර්නී නගරයට ළංවුණේ නැතිද?'' මගියෙක් කලබලයෙන් ඇසුවා.

දීම්කා මේ නම ගැන සැලකිලිමත් වුණා.

''යන්තාර්නී කියන්නේ මොකක්ද?''

# තෘණ මණී

''යහළුවා, තමුසෙ යන්තාර් (තෘණමණී) ගැන දන්නේ නැතිද? තමුසෙ හරිම නූගත් මිනිහෙක්!'' මේ වර දීම්කාගේ ප්‍රශ්නයට පිළිතුරු දුන් මගියෙක් කිව්වා.

හැබැයි දීම්කාට ටිකක්වත් තරහ ගියේ නෑ.

''යන්තාර් කියන්නෙ මොකකටද?''

''පයින් ගස්වල ලාටු මීට අවුරුදු දහසකට පෙර මහ මූදට වැටිල ගල් ගැහුණා.'' මගියා දීම්කාට විස්තර කරන්ට පටන් ගත්තා. ''දැන් මේවා වටිනා ගල් වර්ගයක්. අපි ඒව මහ මුහුදෙන් ගොඩ ගන්නවා. අප වාසය කරන නගරෙ නම තමා 'යන්තාර්නී.'''



ඒ වන විට අපට කුඩා නගරයක් වන යන්තාර්නීය පෙනිණි. එය බෝල්ටික් මුහුදේ වෙරළ බඩ පිහිටියේය. යන්තාර්නිය පසු කළාම කලිනින්ග්‍රාඩ්, ඊට පස්සෙ රීගා, තාල්ලින්...

මගීන් හැමදෙනාම වාගේ කතාවට වැටුණා.

''යන්තාර් ඒක බොහොම හොඳා!'' ලිතුවේනියාවේ රට වැසියෙක් කීවා. ''අපිත් නොයෙකුත් දේ රටට ලබාදෙනවා. මාළුවලට ආසද? ඔන්න අපි මුළු රටටම සෑහෙන්න මාළු අල්ලනවා. තෝර මාළුත් අල්ලනවා. තෝර මාළු කාලා තියෙනවද?''

''අපි මාළු අල්ලන නැව් හදනවා. මාළු අල්ලන්ට හොඳ නැව් ඕන'' ලැට්වියාවේ රට වැසි මගියා දීම්කාට කිව්වා.

''ගෙවල්වලට උණුසුම ලබාදීමට අපි පොතුගල්, පතල්වලින් කණිනවා. පොතුගල් බිම් අඟුරු වගේම හොඳට තාපනය ලබා දෙනවා.'' ඒස්තෝනියා ජාතිකයා විස්තර කළා.

''අපි මාළු අල්ලනවා, කඩදසි හදනවා, කිරි සහ මස් සපයනවා.''

''අපි, තවත් හොඳ ලස්සන ගුවන් විදුලි යන්ත්‍ර හදනවා. 'ලැට්වියා' කියන පුංචි බස්රිය වර්ගය ගැන අහලා තියෙනවද?'' තවත් මගියෙක් ප්‍රශ්න කළා.

''අපි සෝවියට් රටේ මුහුදු තීර රකිනවා. අහස් යානා මගින් අහසේත්, නැව් මගින් මුහුදේත්, සබ්මැරීන් නැව් මගින් මුහුද යටත් අපි රට රකින්නේ, අපේ රටවැසියන්ට සාමය ලබාදීමටයි'' මෙහෙම කීවේ යුධ නැවක සේවය කරන නාවිකයෙක්.



# ලෙනින්ග්‍රාඩ්



අපේ අහස් යානය තොටුපොළට පාත්වුණා.
''පළමුවැනි නැවතුම් පොළ'' එක් නියමුවෙක් කිව්වා.
විශාල නගරයක් දුටු දීම්කා කනගාටුවට පත්වෙලා ප්‍රශ්න කළා:
''අපේ සංචාරය ඉවරද? මේ මොස්කව්ද?''
මම දීම්කාව සන්සුන් කළා:
''මොස්කව් නොවේ. ලෙනින්ග්‍රාඩ්. මෙයත් විශාල, කීර්තිමත් නගරයක්.''
අපේ අහස් යානය දුර ගමනකට සූදනම් වූ අතර මමයි දීම්කායි ලෙනින්ග්‍රාඩ් නගරයේ ඇවිද්ද: බොහොම දිගැති ලස්සන පාරවල්, නේවා ගඟේ ඉවුර, 'අව්රෝරා' නැව නවත්වා ඇති පෙදෙස.

''දහ අට වැනි සිය වසේ මුල් කාලෙදී මේ නගරයේ මාවත්, චතුරශ්‍ර තිබුණේ නැහැ. මිනිසුන්ට ගමන් කරන්ට බැරි මඩ ගොහොරු සහ කැලෑවක් මෙතන තිබුණා. ඊට අවුරුදු දෙසියයකට පස්සේ, 1917 දී ව්ලදීමීර් ඉල්යීච් ලෙනින්ගේ නායකත්වයෙන් විප්ලවය ඇතිවුණේ මේ නගරෙදී. ස්මොල්නි ආයතනයේ සිට ලෙනින් විප්ලවයට අණ දුන්නා.'' මම දීම්කාට පැහැදිලි කළා.

විප්ලවය පටන්ගැනීමට සංඥ කළේ 'අව්රෝරා' යුඩ නැවයි.





දැන් මේ යුධ නැව නේවා ගඟේ නවතා තියෙනව. නාවුක ශිල්පය ඉගෙ
ගැනීමට දැන් මේ නැවට නාවිකයෝ එනවා. ලෙනින්ග්‍රාඩයට එන හැ
කෙනෙක්ම 'අව්රෝරා' යුධ නැව බලන්ට එනවා. මෙය ඉතිහාසයක් ඇ
නැවකි.

# ආහාර සපයන වොල්ගාව

බෝල්ටික් මුහුදේ සිට අපි හැතැප්ම සිය ගණනක් ඈත පිහිටි වොල්ගාවට ආවා. රුසියාවේ විශාල ගඟකි එය.

වොල්ගා ගඟට රුසියානුන් ආදරෙයි. වොල්ගාව අසල පිහිටි උල්යානොව්ස්ක් නගරයේ තමා ලෙනින් උපන්නේ. ඉස්සර කාලේ වොල්ගා පෙදෙසේ සිටි රුසියන් වරු තම ජාතික නිදහස රැකගන්න යුධ කරල තියෙනව. වීර සෝවියට් හමුදව ජර්මන් පැසිස්ට් සතුරාව විනාශ කර දැම්මේ, වොල්ගා ගඟබඩ පිහිටි ස්ටාලින්ග්‍රාඩ් නගරයේදී.

වොල්ගා නදිය බොහොම ලස්සනයි! මිනිස්සු එහෙම කියන්නෙ නිකමට නොවේ. අපට ආහාර සපයන මාතාව තමා වොල්ගාව.

''වොල්ගා පෙදෙසේ හැම දෙයක්ම හදනවා. මේ පෙදෙසේ හැම දෙයක්ම තියෙනවා.'' මම දීම්කාට කිව්වා.

''හැම දෙයක්ම තියෙනවාද?'' දීම්කා සැක සිතින් ප්‍රශ්න කළා.

''ඔව්!''

දීම්කා කල්පනා කරන්ට පටන් ගත්තා. දැන් දැන් දීම්කා ප්‍රශ්නයක් අසතියි මම හිතුවා.

හරියට හරි. ප්‍රශ්නයක් ඇසුවා.

''කාර් තියෙනවද?''

මට ඉබේටම සිනා ගියා.

''අන්න බලන්න! අර පෙනෙණ කම්හලේ මොටෝ රථ, ලොරි හදනවා.''

''මොටෝ රථ වල වර්ග හා නම් අනුව මෙහෙමයි. 'වොල්ගා'. ඊට වඩා ලොකු



මොටෝ රථයේ නම 'වායිකා'. 'ගාස්-69' නමින් ප්‍රසිඬ ජීප් රථ හදන්නෙත් මෙහෙ.''

ලොරි, මොටෝ රථ, තිරිඟු, ඛණිජ තෙල්, පූට්ටු ගෙවල්, ඇඳුම්, ලියවන පට්ටල් සහ මාළු පටවාගත් නැව් වොල්ගා නදිය දිගේ දුවනවා. මේවා හැම දෙයක්ම ලැබෙන්නේ වොල්ගාවෙන්.



වොල්ගා ගඟ හරහා වේල්ලක් බැන්ද. එවිට මුහුදක් තරම් ලොකු ජලාශයක් ඇතිවුණා.

මෙතැන සිට රටේ හැම තැනටම විදුලි කම්බි දිගේ විදුලිය බලය යැව්වා. වොල්ගා නදියේ සෑදූ ජල විදුලි බලස්ථානයෙන් තමා විදුලිය බලය ලැබෙන්නේ.

''වොල්ගා නදිය දිගේ කළුපාට විශාල නල සවිකළා. මේ නල දිගේ ඛණිජ



තෙල් සහ ගෑස් රට පුරා යවනවා. වොල්ගාව රටේ කර්මාන්ත වලට අවශ්‍ය බලය සපයා දෙනවා.''

දීම්කා මා දිහා බලාගෙන නැවත කල්පනා කරන්න පටන් ගත්තා.

''අජටාකාශ ගාමීන් ගැන ?'' ඔහු නැවත ප්‍රශ්න කළා.

''යූරි ගගාරින්වයි, ගෙර්මන් ටිටෝව්වයි වොල්ගාවේ වැසියන් හැටියට නම්කළ හැකියි. ඒ ගොල්ලන්ගෙ අජටාකාශ යානා ආපසු ආවේ වොල්ගාවේ සරාටොව් පෙදෙසටයි'' මම පිළිතුරු දුන්නා.

# ඇවිදින යන්ත්‍ර

දැන් අපි යන්නේ උරාලයට උඩිනුයි. උරාලයේ උස් කඳු හා විශාල තැනි තලාද, මහා කැලෑද තිබේ.

කඳුවල වටිනා ලෝහ වර්ගද, මැණික් ගල් වර්ගද ඇත. තැනි තලාවල මහ මුහුද මෙන් විශාල තිරිඟු කුඹුරුය. තුන්ද්‍රා මහ වනයේ වටිනා සතුන්ය. ගංගාවල මාළු වර්ග බොහෝය.



අපේ ජාතික වීරයින්ගෙන් බොහෝ දෙනෙකු උපන්නේ උරාලයේ. පසුගිය මහා යුඬය පැවැති කාලයේදී අති විශාල යුඬ ටැන්කි සහ කාල තුවක්කු සෑදුවේත් උරාලයේය. සතුරා පැදරවීමට මේවාට පුළුවන් විය. දැන් උරාලයේ මහා



කම්හල්වල ට්‍රැක්ටර් සහ ඇවිදින එක්ස්කැවේටර් යන්ත්‍ර* හදනවා. යපස් කණිනවා, මොටෝ රථ සහ ලොරි සාදනවා. උරාලය යෝධයින්ගේ හා වීරයින්ගේ මවුබිම හැටියට සෝවියට් ජනතාව සලකයි.

*පොළොව හෑරීමට යොදන ට්‍රැක්ටරයක් වැනි යන්ත්‍රයක්.



උරාලය ලෝහ ගබඩාව හැටියටත් ප්‍රසිඬයි. රටට උවමනා වටිනා ලෝහ වර්ග මෙහි නිපදවනවා.

මගේ පුතා වැඩියෙන්ම ආශා කළේ ඇවිදින එක්ස්කැවේටර් යන්ත්‍ර ගැන දැනගැනීමටයි.

''ඒවා ගැන කියන්නකො!'' දීමිකා ඉල්ලා සිටියා.

''මේ යන්ත්‍රය මිනිහෙක් වගේ මහ පොළොවේ ඇවිදිනවා. විශාල ලොරියකට වුණත් එක වරම පස් පුරවනවා'' මම විස්තර කළා.

''කොහොමද මහ පොළොවෙ ඇවිදින්නේ?''

''හරියට ලොකු සපත්තු දෙකක් ඇඳගත් මිනිහෙක් වගෙ. එක අඩියක් පෙරට තියලා, පසුව අනිත් අඩියත් පෙරට තියනවා. ඔහොම ඇවිදිනවා.''



# විශාලතම, සරු පෙදෙස



අහස් යානය දිගටම පියාඹනවා. වැඩිය ඉහළිනුත් නොවේ, පහළිනුත් නොවේ. දුම්රිය පාර දිගට දුම්රිය සිය ගණනක් වැළ නොකැඩී දුවනවා.

''ඒවා යන්නේ කොහෙද?'' දීමිකා ඇසුවා.

''සයිබීරියාවටයි, ඈත පෙරදිගටයි.'' මම කිව්වා.

''ඒ ගැන කියන්නකෝ!''

''අපේ රටේ ලොකුම ලොකු, හොඳටම පොහොසත් පෙදෙස තමා සයිබීරියාව සහ ඈත පෙරදිග.''

පැය කීපයක් තිස්සේ අපි සයිබීරියාවට හා ඈත පෙරදිගට උඩින් පියාසර කළෙමු. දීම්කා දිගටම ප්‍රශ්න අසන්ට පටන් ගත්තා.

''අර පෙනෙණ ගඟේ නම මොකක්ද?''



සයිබීරියාවේ ගංගා පෙන්වීමට මට සිදුවුණා: ''ඕබ්, ඉර්තිෂ්, අන්ගරා, යෙනිසෙයි, අමූර්, ලේනා.''

දීම්කා නැවත ප්‍රශ්න අසනවා:

''මේ නගරෙ නම? අර නගරෙ නම?''

සයිබීරියාවෙ සහ ඈත පෙරදිග නගර බොහෝම තියෙනව. පැරණි නගර වගේම අළුත් නගර බොහොමයි. මූකලන් තයිගා වනය මැද යෝධ කම්හල් තියෙනවා, තව තවත් අළුත් කම්හල් එහි හදනවා.

ඉස්සර වගේ නෙවි. ඉස්සර ගඩොලින් ගඩොල තියල බිත්ති හැදුවෙ. ඒවාට



බොහොම දිගු කලක් ගතවුණා! දැන් කම්හලේ, බිත්තිය, වහළ, බිම, පඩිපෙළ වෙනම හදනවා. යෝධ දෙඹකර යන්ත්‍ර සවිකරලා, මේවා පූට්ටු කරනවා. තට්ටු දෙළහක ගොඩනැගිල්ලක් හදන්න ගත වෙන්නෙ මාසයයි. මිනිසුන්ට පූට්ටු ගෙවල් බෙදා දෙනවා.

සයිබීරියාවේ යෝධ ගංගාවල ලෝකයේ විශාල ජල විදුලි බල ස්ථාන හදනවා. ඒ ගංගාවල නැව් දුවනවා. දැව දඬු පුරවා ගත් පාරු යාන්ත්‍රික බෝට්ටු මගින් ඇදගෙන දුවනවා.

බයිකාල් වැව මුහුදක් තරම් විශාලයි. ඔමුල් නැමැති රසැති මාළු වර්ගයක් මෙහි ඉන්නවා. සයිබීරියාවේ සරු අස්වැන්න කපාගැනීමට කොම්බයින් යන්ත්‍ර යොදවනවා.

උතුරු සයිබීරියාවේ දියමන්ති පතල් තිබේ. මේ පෙදෙසේ නිර්භීත දඩයම් කරුවෝ වටිනා සතුන් දඩයම් කරනවා.

සයිබීරියාවට හා ඈත පෙරදිගට ඉහළින් පියාසර කළ අපි කම්චාත්කාවට ආවෙමු. සෝවියට් රටේ නැගෙනහිර සීමාව තමා කම්චාත්කාව. මෙහි ගිනිකඳු තිබෙනවා. සමහර ගිනි කඳු දුම් පිට කරන සැටි අපට පෙනේ. කඳු මුදුනේ හිම වැටී ඇත. තැනි තලාවල අර්තාපල් සහ ගෝවා වවනු ලැබේ. තාරාවුන් සහ කුකුළන් ඇති කරනු ලැබේ. මුහුදු යන නැව්, මාළු සහ කකුළුවන් අල්ලනවා. මේ නැව් ඈත

මුහුදට ගියදා බොහෝ මාළු සහ කකුළුවන් අල්ලාගෙන එනවා. කම්චාත්කාවේ වැසියෝ වැඩිපුරම කකුළුවන් අල්ලති. මාළු ඇල්ලීම හා වන සතුන් දඩයම මෙහෙ බොහොම දියුණුයි.

''මෙහෙ දේශ ගුණය කොහොමද?'' පුදුමයටපත්වී සිටි දීම්කා මගෙන් ප්‍රශ්න කළා.



දැන් ජූනි මාසයයි. ග්‍රීෂ්මාන කාලය. මායි දීම්කායි මොස්කව් නගරයෙන් පිටවන විට, හැමතැනම ගස්වල කොළ වැවී තිබුණා. ඉර අව්ව සැරයි. මිනිස්සු බොහොම සැහැල්ලුවට ඇඳ හිටියා.

මෙහෙ එක පෙදෙසක හිම. තවත් පෙදෙසක ගස්වල මල් පිපිලා, තණ වැවිලා.

''අන්න හිම යානා දුවනවා!'' දීම්කා කෑගැසුවා.

විනාඩියකට පසුව බිම බැලුවා:

''අන්න අර ගඟේ මිනිස්සු නානවා. මොකද එක තැනක හිම තව තැනෙක ගස්වල මල් පිපිලා?'' දීම්කා ඇසුවා.

''සයිබීරියාව බොහොම ලොකුයි. ඔය හේතුව හන්ද මෙහෙ එක තැනක හිම, ශීත කාලය. තව තැනෙක ගිම්හානය. තවත් තැනෙක සරත් සමය. තවත් තැනෙක වසන්තය. එතරම් විශාලයි සයිබීරියාව සහ ඈත පෙරදිග.''

උතුරු දිග හිම සාගරයේ දුවන පරමාණු නැව — ''ලෙනින්''. මේ නැව විශාල හිම කැටි කඩනවා. සාගරයේ වෙරළ දිගේ හිම යානා දුවනවා. ඒවා





ඇදගෙන බල්ලෝ දුවනවා. උතුරු දිග හිමෙන් වැසිලා, නමුත් අමූර් ගඟ දෙපස ලස්සන මල් වැවිලා. කොල්ලෝ ගඟට පැන නානවා, දිය කෙළිනවා, හිරු තපිනවා.

කම්චාත්කා මුහුද නාන්නට සුදුසු තැනක් නොවේ. කඳු අසල උණු දිය උල්පත් තිබේ. සීත කාලයට පවා මෙතැන දිය නාන්ට පුළුවන. අවට යාර කීපයක් උසැති හිම තට්ටු. උණු දිය බොහොම රස්නෙයි. නාන්නට හිතෙන්නේ නෑ.

# කාන්තාරය

සයිබීරියාවේ සිට අපේ අහස් යානය මැද ආසියාවට ආවා.

අපි කොහේ ගියත් අපේ අහස් යානය තුළ උෂ්ණත්වය වෙනස් වුණේ නැහැ. ශීත උෂ්ණ සම සමව පවතින සැපදයක කාල ගුණයක් අහස් යානාව ඇතුළෙ තිබුණෙ.

''මහ පොළොවෙ දෙශ ගුණය කොහොමද?'' දීම්කා ඇසුවා.

මැද ආසියාවෙ කාල ගුණය බොහොම උෂ්ණයි. කාල ගුණයට විරුඬව මිනිසුන්ට සටන් කිරීමට සිද්ද වෙලා තියෙනවා. ජලය ලබාගැනීමට, උෂ්ණයට හා ඉර අව්වට විරුඬව අස්වැන්න රැකගැනීමට සටන් කිරීමට සිදුවී තිබෙනවා!



''කාල ගුණයට විරුඬව කොහොමද සටන් කරන්නේ?'' දීමිකා නැවත ඇසුවා.

''බිම බලන්න. එවිට පෙනේවි!''

බිම බැලුවම යසට පෙනෙන බව ඇත්ත තමා. පොළොව දිගට හරහට ඇලවල්, අගල්, දිය පාරවල් සාද තිබෙනවා. මේවා දිගේ ජලය ගලා යනවා. කපු වතුවලටත්, මිදි වතු සහ උයන්වතු වලටත් මේ විදිහට ජලය සපයනවා. කාරා-කුම් නැමැති මහ වැලි කතර හරහා හැතැප්ම සිය ගණනක් දිග වැවක් හැදුවා. මෙය තමා තුර්ක්මේනියාවේ කාරා කුම් ඇල.

''ඇලවල් නැති තැන්වල කොහොමද?'' අපේ දීමිකා ප්‍රශ්න කළා.

''ඒ වගෙ පෙදෙස් වලට ලොකු අහස් යානා මගින් ජලය සපයනවා. කුඹුරුවලට අහසින් ජලය ඉසිනවා. දිග ජල නල හා වතුර ටැංකි සහිත රථ වලින් සමහර පෙදෙස් වලට කෘත්‍රිම වැසි ලබාදෙනවා.

ඉස්සර කසාහ්ස්ථානය දුප්පත්. පාළු බිම්වලින් පිරී තිබුණා. තද ඉරු රැස් නිසා මහ පොළොව පිළිස්සුණා. කිසිම දෙයක් වගා කරන්ට බැරිවුණා. දැන් මේ





පෙදෙසට ආ නිර්භීත මිනිස්සු ඒ සියල්ල වෙනස් කළා. අළුත් නගර, ගම්, ජනපද හැදුවා. නගරවල මාවත් දිගයි, ඇදනැත. උයන්වතු හා විශාල කුඹුරු ඇති කළා."

අපේ අහස් යානය වේගයෙන් පියාඹනවා, නමුත් කුඹුරු වල ඉවරයක් පෙනෙන්ට නැහැ. මහ පාරවල දිගට ලොරි හා ට්‍රැක්ටර් රථ දුවනවා. ගංගා හා වැව් ඉවුරුවල අශ්වයින් හා ඔටුවන් රංචු පිටින් ඇවිදින සැටි දුටුවා. බූරුවන් බොහොම කුඩාවට පෙනුණා. සමහර පෙදෙස්වල යපස් උණුකොට ලෝහ වර්ග සාදනවා.තවත් තැන්වල යපස් උණුකොට වානේ සාදනවා. නැවුම් බිම්වල ගොවිතැන් කොට විශාල අස්වැන්නක් ලබා ගන්නවා.

මැද ආසියාවේ හැම තැනම වාගේ විශාල කපු වතු සහ උයන් වතු. එළුවන් සහ බැටළුවන් රැක බලාගන්නා එඬේරු උන්ට තණ කවනවා.

උයන්වතු වලින් ඇපල්, පෙයර්ස්, පීච් සහ ප්ලම් ආදී රසැති පලතුරු ලැබේ. කපුවලින් රෙදි, කමිස, බැනියම් හා ගවොම් ලබාගත හැක.

බැටළුවන්ගෙන් මස් හා ලොම් ලැබේ.

මැද ආසියාවේ බැටළුවෝ බොහෝ සිටිති.

ඔවුන් කොතරම්දැයි ගණන් කිරීම පවා අපහසුය.

බැටළු රංචු කඳුවල තණ කති.

එක් තැනෙක තණ කා ඉවරවූ විගස ඔවුන් තවත් තැනකට දක්කති. සමහර විට මේ සතුන් අහස් යානා සහ හෙලිකොප්ටර් මගින් වෙනත් තැනකට ගෙන යති.

අහසින් යාම සතුන්ට පුරුදු නූණත්, ඔවුන්ට එය සතුටකි. පැයක් ගතවීමට පෙර බැටළුවෝ තවත් තැනෙක සැපට වැඩුණු තණ කති. මේ නිසාම අහස් යානාවකින් යාම සතුටකි.



# ඛණිජ තෙල්



කැස්පියන් මුහුදට ළං වෙත්ම ඛණිජ තෙල් හාරන උස කණු සහිත යන්ත්‍ර පෙනේ. කාරා-කුම් කාන්තාරයේද මෙවැනි යන්ත්‍ර බොහෝය. මුහුද මැදද, කැස්පියන් මුහුදු වෙරළේද එසේමය. තුර්ක්මේනියාවේ, කොකේසියාවේ සහ අසර්බයිජානයේ මිනිස්සු ඛණිජ තෙල් නිපදවති. ඛණිජ තෙල් නැතිව මොටෝ

රථ, ලොරි, දුම්රිය, නැව්, අහස්යාත්‍රා ආදිය ක්‍රියා කළ නොහැක. ඛණිජ තෙල් වලින් ලබාගන්නේ පෙට්‍රල් පමණක් නොවේ! ඇඳුම්, ලොම් වර්ග, යන්ත්‍රවල කොටස් ඛණිජ තෙල් වලින් සෑදිය හැක!

කොකේසියාව අප රටට ඛණිජ තෙල් සහ යපස් ලබා දෙයි, බැටළුවන්ගේ ලොම් හා මස් ලබා දෙයි, පලතුරු, තිරිඟු හා මිදි ලබා දෙයි. යන්ත්‍ර සූත්‍ර නිපදවයි.







කොකේසියාවේ මිනිසුන් නැටීමට හපන්නුය. ලස්සන ගී ගයන මේ අය අසුපිට යාමටද දක්ෂයෝය. ඔවුන් දෙස බලන විට ඔවුන් මෙන් නැටීමට, ගීකීමට හා අසු පිට යාමට අපටද සිතේ.

අපේ අහස් යානය දැන් කොකේසියාවේ කඳුවලට උඩින් පියාඹා කළු මුහුදටත් ඉන්පසු අසොව් මුහුදටත් පැමිණියේය.

බිම බැලූ දීම්කා නැවත මගෙන් ප්‍රශ්න කළා; ‘‘අර පෙනෙන්නේ මොනවද?’’

පහළ ලස්සන ගෙවල් හා උයන්වතුය. රන් පැහැති මුහුදු වෙරළය.

''මෙතැන මිනිස්සු විවේක ගන්නවා'' මම කීවෙමි.

කැස්පියන් මුහුද, අසොව් මුහුද හා කළු මුහුද අසල සාද ඇති සෞඛ්‍යාගාර හා විනෝදගාරවල මිනිස්සු විවේක ගනිති. රෝග සුවකර ගැනීමටත් හිරු රැස් නැමටත් මුහුදේ පීනීමටත් ඔවුහු මෙහි එති!



# පිටරටවලට උදව් දීම

කළු මුහුදේදී නැව් බොහොමයක් අපි දුටුවෙමු. ඒවාවලට යන්ත්‍ර සූත්‍ර සහ තිරිඟු පටවනවා.

''බෝල්ටික් මුහුදෙ නැව් අපි දැක්කා'' දීමකා මතක් කළා.

''හරියට හරි!''

''ඈත පෙරදිගත් අපි නැව් වලට බඩු පටවන සැටි දැක්කා.''

''ඔව්.''

''ඔය නැව් කොහෙද යන්නේ?'' දීම්කා ඇසුවා.

''ලෝකයේ නොයෙක් රටවලට. අපේ රටේ මිනිස්සු තමන්ට විතරක් නෙවි වැඩකරගන්නේ. පිටරටවල මිනිසුන්ටත් ආධාර කරනව. ඉන්දියාවේ, ලංකාවේ සහ පෝලන්තයේ කම්හල් සෑදීමට උවමනා යන්ත්‍ර සූත්‍ර ගෙනියනවා. කියුබාවට හා අප්‍රිකාවට තිරිඟු සහ යන්ත්‍ර ගෙනියනවා. වියට්නාමයට, බල්ගේරියාවට, මොන්ගෝලියාවට, මහජන ප්‍රජාතන්ත්‍රවාදී කොරියාවට, යූගොස්ලාවියාවට, මහජන ප්‍රජාතන්ත්‍රවාදී ජර්මනියට, චෙකොස්ලොවේකියාවට සහ රුමේනියාවට ආහාර, යන්ත්‍ර සූත්‍ර ආදී අවශ්‍ය භාණ්ඩ ගෙනියනවා. නැව් වලින් විතරක් නොවේ දුම්රිය හා අහස් යානා වලින් මෙසේ බඩු පටවාගෙන යනවා. නළ මගින් මිතුරු රටවලට ඛණිජ තෙල් යවනවා. විදුලිය බලය කේබල් කම්බි දිගේ යවනවා.

අපේ රට විශාලයි, බලවත්, පොහොසත්. අපේ රටේ නොයෙක් ජාති වලට අයත් මිනිසුන් මිතුරන් වගේ ජීවත් වෙනවා. ඒ අය බොහොම කරුණාවන්තයි.

ඉතින් ඔන්න ඔය විදිහට මමයි දීම්කායි සෝවියට් සමාජවාදී ජනරජ සංගමය වටේ අහසින් ගිහින් නොයෙක් දේ දැක බලාගත්තා.





සෙර්ගෙයි බරුස්දින්

සෝවියට් රට වටේ

අනුවාදය; දෑදිගම. වී. රුද්රිගු

С. БАРУЗДИН

ПРИГЛАШАЕМ ВАС ПУТЕШЕСТВОВАТЬ ПО СССР

*на сингальском языке*





